18737

OL/2010/47-S





47 S

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2010 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2010 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2010

සිංහල සාහිත්‍ය රසාස්වාදය
இலக்கிய நயம் சிங்களம்
Appreciation of Sinhala Literary Texts

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

※ I කොටසෙහි **1,2** ප්‍රශ්නවලටත්, II කොටසෙහි **3 වැනි** ප්‍රශ්නයටත්, III කොටසෙහි **4, 5, 6, 7** ප්‍රශ්නවලින් තෝරාගත් ප්‍රශ්න **දෙකකටත්** උත්තර සපයන්න.

## I කොටස

1. (i) සිට (v) තෙක් ඇති කොටස් කියවා, ඒ එක එකක් පිළිබඳ ව අසා ඇති (අ), (ආ) ප්‍රශ්නවලට **කෙටි උත්තර** ලියන්න.

(i) "මා දුක්පත් තැනැත්තියට සර්ව සංහාරක නම් සුවඳ කොයින් ද? නිරන්තරයෙන් ම පුවහු මලෙහි සුවඳ කවමි."

(අ) මෙම ප්‍රකාශය කරන ලද්දේ කවුරුන් විසින් ද?

(ආ) සර්ව සංහාරක සුවඳ යනු කුමක් ද?

(ii) "මාගේ දෙමවුපියන් විසින් පාවා දෙන ලද සමණන් දෑ කෙනෙක් ඇත. ඔහු වනාහි මා මේ ගස උඩ හිඳුවා පලා ගියෝය."

(අ) මෙම කියමන ඇතුළත් වන අතුරු කතාවේ නම ලියන්න.

(ආ) මෙම ප්‍රකාශය කළ තැනැත්තියට ඉන් පසුව සිදු වූයේ කුමක් ද?

(iii) "දෙ සේනාව සටන් නොකට මැනව. රජ දරුවන් දෙදෙනාගේ පණ්ඩිත දෙදෙන එක තැනකට එද්ද, ඉන් එක් කෙනෙක් වැන්දවු නම් වැඳි පක්ෂයේ රජහට පරාජය වන්නේ ය. වැඳුම් ලත් පක්ෂයේ රජහට ජය වන්නේ ය."

(අ) මෙම ප්‍රකාශය කරන ලද්දේ කවුරුන් විසින් ද?

(ආ) මෙම සිදුවීම හැඳින්වූයේ කිනම් නමකින් ද?

(iv) "මල් නොගෙන පල දෙන
දිඹුල් තුරු සේ ඇම තැන
කිසි කරුණක් නොගෙන
දනන් සුවපත් කෙරෙති නිතියෙන"

(අ) මෙම කවිය ඇතුළත් වන ග්‍රන්ථය කුමක් ද?

(ආ) මෙහි දක්වෙන උපමාව වෙන් කොට ලියන්න.

(v) "අවරට ගිය හිරු දෙවිතෙම
උණුසුම ගෙන දෙන අධියෙන්
සැහැවී සිටිය ද නොදනිමි, මොහුගෙ පා මුලේ"

(අ) මෙම කවිය ඇතුළත් කවි පන්තිය රචනා කළ කවියා නම් කරන්න.

(ආ) 'බැස ගිය හිරු' යන තේරුම ඇතුළත් කාව්‍යමය යෙදුම උපුටා දක්වන්න. *(ලකුණු 04 × 5 = 20 යි.)*

[ දෙවැනි පිටුව බලන්න.

2. පහත සඳහන් ගද්‍ය හා පද්‍ය කොටස්වල **තද කළු අකුරෙන්** මුද්‍රිත කොටස්වල අර්ථය පළමුව වෙන් වෙන් ව ලියා, එක් එක් කොටසෙහි සමස්ත අර්ථය ද ලිහිල් බසින් ලියන්න.

(i) "ස්නේහ ධරා ගන්නට අසමර්ථ ව දරුවන් වැලඳගෙනැ, **ළෙහි හොවා**, සිප ගනිති. මෙසේ **ඔරුගිඳ** තමන් මරා කෙළනා වේලෙහි මෑණියන්ට දරුවෝ ආදි ඇති ප්‍රේමයට වඩා ලා ම ප්‍රිය වන්නාහ."

(ii) "අපි **කැට මුගුරු ආදීන්** මරන්නමෝ ද තවතාගත නුහුණම්හ. නුඹ වහන්සේ විසින් ගිය දවසැ **වලින් ලද** පොකුණක් එවුව මැනව. ඒ පොකුණ හා අපගේ පොකුණ හා එක්කොට යොද ගෙනෙම් හ."

(iii) "**සිතුමිණ** මෙන් ලොවට
යපැමිණී මෙ අප මුනිඳුට
**සුරසෙන්** සිට දෙපිට
සලති පැහැ විහිදි මිණි තල්වැට"

(iv) "දූන් මුගෙ **රළුකම් බස්** තෙපලන්නේ
නැගණින් අල්ලා අත්වැල ලන්නේ
**තරයේ වෙවුලා** කඳුළු ඉසින්නේ
දෙවියන් බමුණා කැටුවයි ඉන්නේ"

(v) "නොකා නොබී **වස්තුව සරි කරන්නේ**
සඳකල්ම ලොව ඉන්නයි බලන්නේ
හොරා වගේ උඩ විත් අත වනන්නේ
එද තමයි කාගෙත් **ඇහැ ඇරෙන්නේ**" (ලකුණු 05 × 05 = 25 යි.)

## II කොටස

පහත දක්වෙන ගද්‍ය - පද්‍ය කොටස් දෙකින් **එක කොටසකට පමණක්** උත්තර සපයන්න.
(එක් උත්තරයක වචන **150** ක් වත් තිබිය යුතු ය.)

3. පහත දක්වෙන කවි පන්තිය කියවා අසා ඇති ප්‍රශ්නවලට උත්තර ලියන්න.

හිමයේ ගොසින් මල් යහනක සිටිනව ද
කොමළ අනගි සිරිපා දෙක රිදෙනව ද
හිගේ නැතිව දෙවියෝ මුර කරනව ද
මගේ ඇත් රජුනි, හිමි අද කොතනක ද

කැලේ තිබෙන කොයි දේවත් රස වේවා
මලේ බඹරු මෙන් පිරිවර ඇති වේවා
අව්වේ තියෙන රැස් මාලා අඩු වේවා
ගව්වෙන් ගව්ව දිව මාළිග සෑ දේවා

කියන මැසිවිල්ල හිමිහට නො ඇසේවා
රන්කඳ මහිමි මට හීනෙන් නොපෙනේවා
කම්රස විඳීමක් නැත මම දිවිරනවා
වෙන්කර ගියත් මම සීලේ පිහිටනවා

(i) මෙම කවි පන්තියෙහි වස්තු විෂය **කෙටියෙන්** ලියන්න.

(ii) ස්වාභාවික පරිසරය ඇසුරෙන් නිර්මාණය කර ඇති 'කැලේ තිබෙන කොයිදේවත් රස වේවා' යන යෙදුමට සමාන යෙදුම් **දෙකක්** දක්වා, ඒවායින් ඇති වන චිත්තරූප පැහැදිලි කරන්න.

(iii) යශෝධරා දේවියගේ පතිභක්තිය සංයමයෙන් කියැවෙන යෙදුම් **දෙකක්** උපුටා දක්වා, එයින් ඇතිවන කාව්‍යමය හැඟීම් කවරේදැයි විස්තර කරන්න.

(iv) සරල බස් වහරත් උචිත පද ලාලිත්‍යයත් මේ කවි පන්තිය රසවත් වීමට හේතුවන අයුරු නිදසුන් **දෙකක්** ඇසුරෙන් විමසන්න. (ලකුණු 25 යි.)

[ තුන්වැනි පිටුව බලන්න.

**නැතහොත්**

පහත දක්වෙන ගද්‍ය කොටස කියවා අසා ඇති ප්‍රශ්නවලට උත්තර ලියන්න.

මා වෙල මැදින් ඇතුළු වන විට ම අම්මා මගට දුවගෙන ආවා ය. අතේ තිබූ කෑම පාර්සලය ගන්ටත් පෙර අම්මා ඉතාම ප්‍රීතියෙන් 'දැක්ක නේද පැන්චෝ විදනෙයා වැට අහක් කරලා ඊයේ රෑ උඹලගෙ අප්පච්චිටත් අඩගහල වැට සුද්ද කෙරෙව්වේ. ඒ වුණත් වැට පැදුණ එක කොච්චර එකක් ද!' මම කිසිවක් කථා නොකර ප්‍රීතියෙන් ගලා එන අම්මගේ වචන මාලාවට තවත් කරුණු එකතු කරන්නට මෙසේ කීවෙමි.

"වැට පැදුණාටත් වඩා ලොකු එකක් තියෙනවා කියන්න. ඒක කියන්නයි අම්මේ අද මං ගෙදර ආවේ."

"මොකක් ද පැන්චෝ කියාපියකෝ බලන්න. කච්චේරියේ පෙත්සමක්වත් විභාග කරන්න එන්න කියලාවත් ද? එහෙම නැත්නම් පැන්චාට ලොකු රක්ෂාවක්වත් ලැබෙන්ට යනවා ද?"

"මම ජ්‍යෙෂ්ඨයේ පාස් වෙලා"

"අනේ වාසනාවන්! ජයසිරි මා හාමුදුරුවන්ට පිං සිද්ද වෙන්න මං ගල්ලෙන පන්සලට ගියොත් කියන්නේ උඹ ගැනම නේ ද? මගේ පැන්චාට දෙයියන්ගේ ම පිහිටයි. තුනුරුවන්ගේ ම සරණයි."

"ඉතින් දූන් පැන්චාට තවත් හොඳ රක්ෂාවක් ලැබෙයි ද?"

"ඒවා තවම නෑ අම්මේ"

අම්මා සතුටු කඳුළු වැගිරෙව්වා ය. මීට අවුරුදු ගණනකට පෙර දිසාපතිතුමා හමුවන්ට ගොස් අම්මාට ලොකු ආරච්චි සැරදාපු දවසේ ආ කඳුළු මට මතකයි."

(i) මෙම ගද්‍ය කොටයෙහි ප්‍රධාන කරුණු **කෙටියෙන්** ලියන්න.

(ii) පහත සඳහන් යෙදුම්වල සැඟවුණු අදහස් පැහැදිලි කරන්න.
   (අ) 'දක්ක නේද පැන්චෝ විදනයා වැට අහක්කරලා'
   (ආ) ඒ වුනත් වැට පැදුණ එක කොච්චර එකක් ද?
   (ඉ) අනේ වාසනාවන්!
   (ඊ) අම්මා සතුටු කඳුළු වැගිරෙව්වා ය.

(iii) මෙම මවගේ සිතට ලොකු සතුටක් ලබාදුන් කරුණු **දෙකක් ගැන** කියැවෙයි. ඒ කරුණු දෙක දක්වා එයින් පාඨකයාගේ සිත තුළ ඇති වන චිත්ත රූප පැහැදිලි කරන්න.

(iv) රජරට ගැමි ජන ජීවිතයෙහි පැතිකඩක් මෙම ගද්‍ය කොටසින් නිරූපණය වන අයුරු නිදසුන් **දෙකක්වත්** ඇසුරෙන් විමසන්න.
*(ලකුණු 25 යි.)*

## III කොටස

මෙම කොටසේ ප්‍රශ්න **දෙකකට** පමණක් උත්තර සපයන්න.
(එක් ප්‍රශ්නයකට ලකුණු **15** බැගින් ලැබේ.)

**4.** උම්මග්ග ජාතකයෙහි ඇතුළත් වන සතරකන් මන්ත්‍රණය හා විවාහ යෝජනාව යන කතා පුවත් දෙකින් **එක් කතා පුවතක් පමණක්** ඇසුරු කොටගෙන කේවට්ට බමුණාගේ චරිතය උපහාසයට ලක් කරන අයුරු විමසන්න.

**5.** 'බුදුගුණ අංලංකාරය' කාව්‍යයෙහි ඇතුළත් 'විශාලා මහනුවර සෞභාග්‍ය වර්ණනාව' අර්ථ රසයෙන් පිරුණු නිර්මාණයකි. නිදසුන් කවි **දෙකක්** ඇසුරෙන් මේ කියමන විස්තර කරන්න.

**6.** 'පෙත්සම නවකතාවේ දක්වෙන තිලකරත්න, දුක් ගැහැට මැදින් දියුණුව කරා ගමන් කළ තරුණයෙකි.' නවකතාවේ ඇතුළත් අවස්ථා **දෙකක්** ඇසුරෙන් මේ අදහස විමසන්න.

**7.** 'ළමා හැසිරීම සුන්දර ලෙස දකින කාව්‍ය නිර්මාණයක් වශයෙන් මීමන ප්‍රේමතිලක කවියාගේ 'පිටිසර ළමයෙක්' කවි පන්තිය අගය කළ හැකි ය.' නිදසුන් කවි **දෙකක්** ඇසුරෙන් පැහැදිලි කරන්න.

※ ※ ※